නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව / இலங்கைப் பரீட்சைத் திணைக்களம் / Department of Examinations, Sri Lanka

60 S I,II

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය I, II
வணிகக் கல்வியும் கணக்கீடும் I, II
Business and Accounting Studies I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

## ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය I

**සැලකිය යුතුයි:**

(i) **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
(iii) **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
(iv) එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

- පහත සඳහන් සිද්ධිය ඇසුරෙන් ප්‍රශ්න අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

ළමා ඇඳුම් මැසීම පිළිබඳ ඩිප්ලෝමාධාරිනියක වූ දිලිනි, මෝස්තර නිර්මාණ ශිල්පියකු වන දිලාන් සමග සමාන ව ප්‍රාග්ධනය යොදා 'දිලූ ටෙක්ස්' නමින් ළමා ඇඳුම් මසා අලෙවි කිරීමේ ව්‍යාපාරයක් පෙර පාසලක් අසලින් ගොඩනැගිල්ලක් මිල දී ගෙන ආරම්භ කරන ලදී.

1. මෙම සිද්ධියේ සඳහන් 'දිලූ ටෙක්ස්' ව්‍යාපාරය විසින් සපුරාලනු ලබන මූලික මිනිස් අවශ්‍යතාව කුමක් ද?
(1) ආහාර (2) ඇඳුම් (3) නිවාස (4) ආරක්ෂාව

2. ඉහත සිද්ධියේ සඳහන් 'දිලූ ටෙක්ස්' ව්‍යාපාරයේ අවස්ථාවක් වන්නේ,
(1) ව්‍යාපාරය පෙර පාසලක් අසල පිහිටා තිබීම ය.
(2) දිලිනි ළමා ඇඳුම් මැසීම පිළිබඳ ඩිප්ලෝමාධාරිනියක් වීම ය.
(3) දිලාන් ව්‍යාපාරයට සම්බන්ධ කර ගැනීම ය.
(4) දිලිනි සහ දිලාන් සම සම ව ප්‍රාග්ධනය යෙදවීම ය.

3. මෙම සිද්ධියේ සඳහන් 'දිලූ ටෙක්ස්' ව්‍යාපාරය අයත් වන ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් ද?
(1) ඒක පුද්ගල ව්‍යාපාර (2) හවුල් ව්‍යාපාර (3) සංස්ථාපිත සමාගම් (4) සමිති සංවිධාන

4. 'දිලූ ටෙක්ස්' ව්‍යාපාරය විසින් මිල දී ගත් ගොඩනැගිල්ල අයත් වන නිෂ්පාදන සාධකය කුමක් ද?
(1) භූමිය (2) ශ්‍රමය (3) ප්‍රාග්ධනය (4) ව්‍යවසායකත්වය

5. මෙම සිද්ධියේ සඳහන් 'දිලූ ටෙක්ස්' ව්‍යාපාරය සම්බන්ධ නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) මෙය භාණ්ඩ නිෂ්පාදන ව්‍යාපාරයකි.
(2) මෙය සේවා සැපයීමේ ව්‍යාපාරයකි.
(3) මෙම ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීම අනිවාර්ය නොවේ.
(4) මෙම ව්‍යාපාරයට නීතිමය පුද්ගලභාවයක් ඇත.

[දෙවැනි පිටුව බලන්න.

6. ව්‍යාපාරයක, ..........①.......... යෙදූ මුදලේ සුරක්ෂිතතාව පිළිබඳ ව උනන්දුවක් දක්වන අතර, ..........②.......... සාධාරණ වැටුප් ලබා ගැනීමට උනන්දුවක් දක්වති.
ඉහත ප්‍රකාශයේ ① හා ② යන ස්ථානවලට අදාළ නිවැරදි යෙදුම් පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) තරඟකරුවෝ, සේවකයෝ
(2) අයිතිකරුවෝ, සැපයුම්කරුවෝ
(3) සේවකයෝ, අයිතිකරුවෝ
(4) අයිතිකරුවෝ, සේවකයෝ

7. ව්‍යාපාර පරිසරයේ සිදු වූ සිදුවීම් කිහිපයක් පහත දැක්වේ.
A - ආබාධිත රණවිරුවන් සැමරීම සඳහා දිනයක් ප්‍රකාශයට පත් කිරීම
B - බැංකු පොලී අනුපාතය ඉහළ දැමීම
C - පාරිභෝගික භාණ්ඩවල මිල ගණන් ඉහළ දැමීම
ඉහත සිදුවීම් අතුරෙන් ආර්ථික පරිසර සාධක පමණක් ඇතුළත් පිළිතුර වන්නේ,
(1) A හා B ය.
(2) A හා C ය.
(3) B හා C ය.
(4) A, B හා C යන සියල්ල ම ය.

8. බැංකු මගින් සපයනු ලබන සේවා කිහිපයක් පහත දැක්වේ. එම සේවා අතුරෙන් ජංගම ගිණුම් හිමියකුට පමණක් ලබා දෙන සේවාවක් වනුයේ,
(1) ස්ථාවර නියෝග ක්‍රියාත්මක කිරීම ය.
(2) බැංකු අයිරා පහසුකම් ලබා දීම ය.
(3) ස්ථාවර තැන්පතු පවත්වාගෙන යාම ය.
(4) විද්‍යුත් මුදල් ආශ්‍රිත සේවා සැපයීම ය.

9. මහජන බැංකුවේ ජංගම ගිණුම් හිමියකු වන කපිල, ලංකා බැංකුවේ ජංගම ගිණුම් හිමියකු වන සපුමල්ට චෙක්පතක් නිකුත් කර ඇත.
මෙම සිද්ධියේ සඳහන් චෙක්පතේ අණකරු හා ආදායකයා පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) කපිල, මහජන බැංකුව
(2) සපුමල්, කපිල
(3) ලංකා බැංකුව, සපුමල්
(4) කපිල, සපුමල්

10. ශ්‍රී ලංකා රක්ෂණ සංස්ථාවේ රක්ෂණය කර තිබූ දිසානායකට අයිති මෝටර් රථය ඔහුගේ රියදුරු වන බණ්ඩාර විසින් පදවාගෙන යන අතරතුර අනතුරකට භාජනය විය.
මෙම සිද්ධියේ සඳහන් රක්ෂණයට සම්බන්ධ පළමු පක්ෂය හා දෙවන පක්ෂය පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) දිසානායක, ශ්‍රී ලංකා රක්ෂණ සංස්ථාව
(2) ශ්‍රී ලංකා රක්ෂණ සංස්ථාව, දිසානායක
(3) බණ්ඩාර, ශ්‍රී ලංකා රක්ෂණ සංස්ථාව
(4) ශ්‍රී ලංකා රක්ෂණ සංස්ථාව, බණ්ඩාර

11. සන්නිවේදන ක්‍රියාවලියක 'ප්‍රතිපෝෂණය' සම්බන්ධ පහත සඳහන් ප්‍රකාශ අතුරෙන් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) පණිවුඩය යවන්නාගෙන් ලබන්නාට වාචික හෝ වාචික නොවන මාධ්‍යයකින් ලැබෙන ප්‍රතිචාරය ප්‍රතිපෝෂණයයි.
(2) පණිවුඩය ලබන්නාගෙන් යවන්නාට වාචික හෝ වාචික නොවන මාධ්‍යයකින් ලැබෙන ප්‍රතිචාරය ප්‍රතිපෝෂණයයි.
(3) සන්නිවේදන ක්‍රියාවලිය සම්පූර්ණ වීමට ප්‍රතිපෝෂණය අවශ්‍ය ම නැත.
(4) පණිවුඩය යවන්නා පණිවුඩය සම්බන්ධයෙන් ක්‍රියාකරන ආකාරය ප්‍රතිපෝෂණයයි.

12. භාණ්ඩ ප්‍රවාහනය කරන විශාල නෞකාවකට අදාළ ප්‍රවාහන මූලිකාංග සඳහා නිදසුන් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) වරාය, ගුවන් මාර්ග, ඩීසල්
(2) ඩීසල්, වරාය, මහා මාර්ග
(3) ජල මාර්ග, ගුවන් තොටුපළ, ඩීසල්
(4) ඩීසල්, ජල මාර්ග, වරාය

13. පහත දැක්වෙන්නේ වෙළෙඳාමක් සිදු වූ අවස්ථා කිහිපයකි.
A - දන්සලක් දීම සඳහා සුනිල් සහල් කිලෝග්‍රෑම් 200 ක් මිල දී ගැනීම
B - බේකරි හිමියකු වූ ධනපාල සිය බේකරි නිෂ්පාදන ආපනශාලාවලට විකිණීම
C - ගඩොල් නිෂ්පාදකයකු විසින් ගඩොල් 5 000 ක් ඇයගේ ම නිවස ඉදි කරන සුජාතාට විකිණීම
ඉහත වෙළෙඳාම් අතුරෙන් සිල්ලර වෙළෙඳාමට අයත් වනුයේ,
(1) A හා B ය.
(2) A හා C ය.
(3) B හා C ය.
(4) A, B හා C යන සියල්ල ම ය.

[තුන්වැනි පිටුව බලන්න.

**14.** විදුහල්පතිතුමා විසින් වාර්ෂික නිවාසාන්තර ක්‍රීඩා උත්සවය සාර්ථක ව පැවැත්වීම සඳහා කමිටු පිහිටුවා ඒවාට සාමාජිකයින් පත් කරන ලදී.
මෙය අයත් වන්නේ කළමනාකරණ ක්‍රියාවලියේ කුමන කාර්යයට ද?
(1) සැලසුම්කරණය (2) සංවිධානකරණය (3) මෙහෙයවීම (4) පාලනය

**15.** සෙල්ලම් භාණ්ඩ අලෙවි කරන ව්‍යාපාරයක් විසින් අවුරුදු පහට අඩු ළමයකුගේ උපන් දිනය දා කරනු ලබන ඕනෑ ම මිල දී ගැනීමක් සඳහා සෙල්ලම් භාණ්ඩයක් නොමිලයේ ලබා දේ.
අලෙවිකරණ අරමුණු ඉටු කර ගැනීම සඳහා මෙහි භාවිත කර ඇත්තේ අලෙවිකරණ මිශ්‍රයේ කුමන විචල්‍යය ද?
(1) නිෂ්පාදිතය (2) මිල (3) ස්ථානය (4) ප්‍රවර්ධනය

**16.** පහත සඳහන් ආයෝජන මාර්ග අතුරෙන් අවදානම අඩු ම ආයෝජන මාර්ගය කුමක් ද?
(1) ස්ථාවර තැන්පතුවක ආයෝජනය කිරීම (2) දේපළ මිල දී ගැනීම
(3) භාණ්ඩාගාර බිල්පත් මිල දී ගැනීම (4) සාමාන්‍ය කොටස් මිල දී ගැනීම

**17.** ගනුදෙනුවක් ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය පහත දැක්වේ.

| වත්කම් (රු.) | = | අයිතිකරුගේ හිමිකම (රු.) | + | වගකීම් (රු.) |
|---|---|---|---|---|
| – 15 000 | = | | | – 15 000 |

ඉහත ගිණුම්කරණ සමීකරණයේ සටහන් කර ඇති ගනුදෙනුව වන්නේ,
(1) සුනිමල්ගෙන් රු. 15 000 ක බඩු තොගයක් ණයට ගැනීම ය.
(2) ණයහිමියකු වූ පියල්ට රු. 15 000 ක් මුදලින් ගෙවීම ය.
(3) කඩ කුලිය රු. 15 000 ක් මුදලින් ගෙවීම ය.
(4) අයිතිකරු රු. 15 000 ක් පෞද්ගලික ප්‍රයෝජනයට ගැනීම ය.

**18.** පහත ගනුදෙනු අතුරෙන් හිමිකම අඩු වීමට බලපාන ගනුදෙනුව වන්නේ,
(1) අයිතිකරු රු. 10 000 ක අමතර ප්‍රාග්ධනයක් යෙදවීම ය.
(2) ව්‍යාපාරයට රු. 6 000 ක ආදායමක් මුදලින් ලැබීම ය.
(3) 10% ක වට්ටමකට යටත් ව ණයහිමියකුට මුදල් ගෙවීම ය.
(4) රු. 2 500 ක රක්ෂණ ගාස්තුව මුදලින් ගෙවීම ය.

**19.** ගනුදෙනුවක් සටහන් කිරීමට අදාළ ද්විත්ව සටහනක් පහත දැක්වේ.
මුදල් ගිණුම හර රු. 5 000
ණයගැති ගිණුම බැර රු. 5 000
සිදු වී ඇති ගනුදෙනුව වන්නේ,
(1) රු. 5 000 ක් වටිනා බඩු තොගයක් ණයට විකිණීම ය.
(2) ණයගැතියකුගෙන් රු. 5 000 ක් මුදල් ලැබීම ය.
(3) රු. 5 000 ක බඩු තොගයක් අත්පිට මුදලට විකිණීම ය.
(4) ණයගැතියන්ගෙන් රු. 5 000 ක් බොල්ණය ලෙස කපා හැරීම ය.

**20.** පහත X තීරුවේ ගිණුම් වර්ග ද, Y තීරුවේ ලෙජර් ගිණුම් කිහිපයක් ද වේ.

| X | Y |
|---|---|
| 1. වත්කම් ගිණුම් | A - වේතන ගිණුම |
| 2. වගකීම් ගිණුම් | B - විකුණුම් ගිණුම |
| 3. ආදායම් ගිණුම් | C - ණයගැති ගිණුම |
| 4. වියදම් ගිණුම් | D - උපචිත විදුලි වියදම් ගිණුම |

X තීරුවේ සඳහන් ගිණුම් වර්ග, Y තීරුවේ සඳහන් ලෙජර් ගිණුම් සමග අනුපිළිවෙළින් ගැළපූ විට ලැබෙන පිළිතුර වන්නේ,
(1) B, C, D හා A ය. (2) C, B, A හා D ය. (3) C, D, B හා A ය. (4) D, C, B හා A ය.

[හතරවැනි පිටුව බලන්න.

**21.** "වැඩිවීම බැර, අඩුවීම හර" යන ද්විත්ව සටහන් මූලධර්මය නිරූපණය වන ගිණුම වන්නේ,
(1) දුන් වට්ටම් ගිණුම ය. (2) මුදල් ගිණුම ය. (3) ගැනුම් ගිණුම ය. (4) ප්‍රාග්ධන ගිණුම ය.

**22.** ව්‍යාපාරයක් රු. 3 000 ක රක්ෂණ ගාස්තු මුදලින් ගෙවීම, සටහන් කිරීමට අදාළ මූලාශ්‍ර ලේඛනය හා මූලික පොත පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) ගෙවීම් වවුචරය, සුළු මුදල් පොත (2) මුදල් පොත, ගෙවීම් වවුචරය
(3) ගෙවීම් වවුචරය, මුදල් පොත (4) ජර්නල් වවුචරය, මුදල් පොත

**23.** 2016.03.31 දිනට ව්‍යාපාරයේ බැංකු ගිණුමේ හර ශේෂය රු. 15 600 ක් වූ අතර එදිනට බැංකුවෙන් ලද බැංකු ප්‍රකාශනයට අනුව ශේෂය රු. 15 100 ක් විය. මෙම වෙනසට හේතු වූ ගනුදෙනුව වන්නේ,
(1) ස්ථාවර නියෝග මත බැංකුව ගෙවූ රක්ෂණ වාරිකය රු. 500 ය.
(2) නිකුත් කළ නමුත් ගෙවීමට ඉදිරිපත් නොකළ චෙක්පත් රු. 500 ය.
(3) බැංකුවට සෘජුව ම ලැබී ඇති ණයගැති ප්‍රේෂණ රු. 500 ය.
(4) බැංකුවට සෘජුව ම ලැබී ඇති ලාභාංශ රු. 500 ය.

**24.** හොඳහිත ස්ටෝර්ස්, පැකට් එකක් රු. 200 බැගින් වොෂි පැකට් 10 ක් ණයට විකුණූ අතර එහි දී අඩු කළ වෙළෙඳ වට්ටම 10% ක් විය. මෙම ගනුදෙනුව නිසා ව්‍යාපාරයේ,
(1) දුන් වට්ටම් රු. 200 කින් වැඩි වේ.
(2) විකුණුම් ආදායම රු. 2 000 කින් වැඩි වේ.
(3) ණයගැති වටිනාකම රු. 2 000 කින් වැඩි වේ.
(4) ණයගැති වටිනාකම රු. 1 800 කින් වැඩි වේ.

**25.** අමරගේ ව්‍යාපාරයේ සුළු මුදල් අග්‍රිමයේ වටිනාකම රු. 2 000 කි. 2016.01.31 දිනට සුළු මුදල් භාරකරු සතු ව තිබූ මුදල රු. 100 ක් වූ අතර 2016.02.01 දින සිට ව්‍යාපාරයේ සුළු මුදල් අග්‍රිමයේ වටිනාකම රු. 3 000 දක්වා වැඩි කිරීමට තීරණය කරන ලදී. 2016.02.01 දින සුළු මුදල් අග්‍රිමය ප්‍රතිපූරණය කිරීමට අදාළ නිවැරදි ද්විත්ව සටහන කුමක් ද?

(1) මුදල් පොත හර රු. 1 900
සුළු මුදල් පොත බැර රු. 1 900

(2) සුළු මුදල් පොත හර රු. 2 900
මුදල් පොත බැර රු. 2 900

(3) සුළු මුදල් පොත හර රු. 1 900
මුදල් පොත බැර රු. 1 900

(4) මුදල් පොත හර රු. 2 900
සුළු මුදල් පොත බැර රු. 2 900

**26.** රෙදිපිළි ව්‍යාපාරයක මූලික පොත්වල සටහන් කර තිබූ ගනුදෙනු දෙකක් පහත දැක්වේ.
A - මොරටු ලී බඩු වෙළෙඳුන්ගෙන් රු. 50 000 ක ලී බඩු ණයට ගැනීම
B - රු. 30 000 ක රෙදිපිළි තොගයක් කපිලට ණයට විකිණීම

ඉහත A හා B ගනුදෙනු මූලික පොත්වල සටහන් කිරීමේ දී භාවිත කළ මූලාශ්‍ර ලේඛන පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) ගැනුම් ඉන්වොයිසිය, විකුණුම් ඉන්වොයිසිය (2) ගැනුම් ඉන්වොයිසිය, ගෙවීම් වවුචරය
(3) ජර්නල් වවුචරය, විකුණුම් ඉන්වොයිසිය (4) ජර්නල් වවුචරය, ගැනුම් ඉන්වොයිසිය

**27.** ව්‍යාපාරයක් ණයහිමියකුට චෙක්පතකින් ගෙවීම, සටහන් කිරීමට අදාළ වන මූලික පොත වනුයේ,
(1) මුදල් ගිණුම ය. (2) ගෙවීම් වවුචරය ය. (3) බැංකු ගිණුම ය. (4) පොදු ජර්නලය ය.

**28.** පහත දැක්වෙන්නේ ගිණුම්කරණයේ දී සිදු වූ වරදක් නිවැරදි කිරීමට අදාළ ජර්නල් සටහනකි.

කාර්යාල උපකරණ ගිණුම හර රු. 40 000
කාර්යාල වියදම් ගිණුම බැර රු. 40 000

ව්‍යාපාරයේ ගිණුම් තැබීමේ දී සිදු වී ඇති වරද වන්නේ,
(1) කාර්යාල වියදම් රු. 40 000 කාර්යාල උපකරණ ගිණුමට හර කර තිබීම ය.
(2) රු. 40 000 ක කාර්යාල උපකරණ අත්පිට මුදලට ගැනුම් සම්පූර්ණයෙන් ම ගිණුම්වල සටහන් නොවීම ය.
(3) කාර්යාල වියදම් රු. 40 000 ගෙවීම සම්පූර්ණයෙන් ම ගිණුම්වල සටහන් නොවීම ය.
(4) කාර්යාල උපකරණ ගැනුම් රු. 40 000 කාර්යාල වියදම් ගිණුමට හර කර තිබීම ය.

**29.** පහත හිස්තැන සඳහා නිවැරදි පිළිතුර තෝරන්න.

| ලද වාර්ෂික සාමාජික මුදල | + | වර්ෂය සඳහා හිඟ සාමාජික මුදල | = | ...................... |
|---|---|---|---|---|

(1) සාමාජිකයකුගේ වාර්ෂික සාමාජික මුදල (2) වර්ෂයේ අතිරික්තය
(3) සමුච්චිත අරමුදල (4) වාර්ෂික සාමාජික මුදල් ආදායම

**30.** ක්‍රීඩා සමිතියකට අදාළ වියදම් අයිතම කිහිපයක් පහත දැක්වේ.

A - ක්‍රීඩා පිටිය නඩත්තු කිරීමේ වියදම්
B - ක්‍රීඩාගාරය ඉදිකිරීමේ වියදම්
C - ක්‍රීඩා පුහුණුකරුගේ දීමනා

ඉහත වියදම් අතුරෙන් ක්‍රීඩා සමිතියේ ආදායම් ප්‍රකාශයේ ඇතුළත් කළ යුතු වන්නේ,
(1) A හා B පමණි. (2) A හා C පමණි.
(3) B හා C පමණි. (4) A, B හා C යන සියල්ල ම ය.

● පහත සඳහන් තොරතුරු ඇසුරෙන් ප්‍රශ්න අංක **31** හා **32** ට පිළිතුරු සපයන්න.
පොත් මුද්‍රණ ආයතනයකට අදාළ පිරිවැය අයිතම කිහිපයක් පහත දැක්වේ.

* කඩදාසි පිරිවැය
* කතුවරයාගේ කතෘභාගය
* මුරකරු වැටුප්
* රක්ෂණ වියදම්
* යන්ත්‍ර ක්‍රියාකරු වැටුප්
* විදුලි වියදම්

**31.** ඉහත මුද්‍රණ ආයතනයේ සෘජු වෙනත් පිරිවැයක් වන්නේ,
(1) කඩදාසි පිරිවැය ය. (2) යන්ත්‍ර ක්‍රියාකරු වැටුප් ය.
(3) කතුවරයාගේ කතෘභාගය ය. (4) මුරකරු වැටුප් ය.

**32.** ඉහත මුද්‍රණ ආයතනයේ නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය ගණනය කිරීමට අදාළ අයිතම පමණක් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) මුරකරු වැටුප්, රක්ෂණ වියදම්, විදුලි වියදම්
(2) කඩදාසි පිරිවැය, කතුවරයාගේ කතෘභාගය, යන්ත්‍ර ක්‍රියාකරු වැටුප්
(3) කඩදාසි පිරිවැය, යන්ත්‍ර ක්‍රියාකරු වැටුප්, මුරකරු වැටුප්
(4) කතුවරයාගේ කතෘභාගය, රක්ෂණ වියදම්, විදුලි වියදම්

**33.** සඳමාලිගේ ව්‍යාපාරය 2015.01.01 දින මාසික කුලිය රු. 5 000 ක් වූ ගොඩනැගිල්ලක් කුලියට ගන්නා ලදී. 2015.12.31 දිනෙන් අවසන් වර්ෂය තුළ දී රු. 50 000 ක් ගොඩනැගිලි කුලී ලෙස ගෙවා තිබුණි. මෙම ව්‍යාපාරයේ 2015.12.31 දිනට,
(1) ගෙවූ ගොඩනැගිලි කුලී ගිණුමේ ශේෂය රු. 10 000 කි.
(2) මූල්‍ය තත්ත්ව ප්‍රකාශයේ දැක්වෙන උපචිත ගොඩනැගිලි කුලිය රු. 10 000 කි.
(3) මූල්‍ය තත්ත්ව ප්‍රකාශයේ දැක්වෙන උපචිත ගොඩනැගිලි කුලිය රු. 60 000 කි.
(4) ගොඩනැගිලි කුලී ගිණුමේ ශේෂය රු. 5 000 කි.

**34.** ව්‍යාපාරයක් විසින් මිල දී ගත් මෝටර් රථයකට අදාළ තොරතුරු පහත පරිදි වේ.

| | |
|---|---|
| * ගැනුම් මිල | රු. 600 000 |
| * සුන්බුන් අගය | රු. 50 000 |
| * ප්‍රයෝජනවත් ජීව කාලය | අවුරුදු 5 |

මෙම ව්‍යාපාරය සරල මාර්ග ක්‍රමයට මෝටර් රථ ක්ෂය කරනු ලබයි නම්, මෝටර් රථයේ ක්ෂය කළ හැකි අගය කොපමණ ද?
(1) රු. 110 000 (2) රු. 550 000 (3) රු. 600 000 (4) රු. 650 000

[හයවැනි පිටුව බලන්න.

- පහත සඳහන් තොරතුරු උපයෝගී කරගෙන අංක **35** සිට **40** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

සදහම්ගේ ව්‍යාපාරයේ 2015.12.31 දිනට ගිණුම් පොත්වලින් උපුටා ගත් ශේෂ කිහිපයක් පහත දැක්වේ.

| | රු. |
|---|---|
| තොගය (2015.01.01 දිනට) | 30 000 |
| විකුණුම් | 200 000 |
| ගැනුම් | 140 000 |
| ගෙන ඒමේ කුලී | 8 000 |
| ගොඩනැගිලි (පිරිවැයට) | 400 000 |
| 2015.01.01 දිනට ගොඩනැගිලි ක්ෂය වෙන් කිරීම් | 100 000 |
| ණයගැතියෝ | 25 000 |
| බැංකු අයිරාව | 18 000 |
| ණයහිමියෝ | 30 000 |
| විදුලි ගාස්තු | 9 000 |
| ප්‍රචාරණ වියදම් | 6 000 |
| මුදල් ශේෂය | 12 000 |
| දුන් වට්ටම් | 1 500 |

අතිරේක තොරතුරු :

* ගොඩනැගිලි වර්ෂයකට 5% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කළ යුතු ය.
* 2015.12.31 දිනට ඉතිරි තොගය රු. 40 000 කි.

**35.** මෙම ව්‍යාපාරයේ 2015.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා විකුණුම් පිරිවැය වන්නේ,
(1) රු. 130 000 කි. (2) රු. 138 000 කි. (3) රු. 170 000 කි. (4) රු. 178 000 කි.

**36.** මෙම ව්‍යාපාරයේ 2015.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා දළ ලාභය වන්නේ,
(1) රු. 22 000 කි. (2) රු. 30 000 කි. (3) රු. 62 000 කි. (4) රු. 70 000 කි.

**37.** මෙම ව්‍යාපාරයේ දැකිය හැකි බෙදාහැරීමේ වියදමක් සහ පරිපාලන වියදමක් පිළිවෙළින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) ප්‍රචාරණ වියදම්, දුන් වට්ටම් (2) ගොඩනැගිලි ක්ෂය, විදුලි ගාස්තු
(3) ප්‍රචාරණ වියදම්, විදුලි ගාස්තු (4) විදුලි ගාස්තු, දුන් වට්ටම්

**38.** මෙම ව්‍යාපාරයේ 2015.12.31 දිනට ගොඩනැගිලිවල ශුද්ධ අගය කොපමණ ද?
(1) රු. 280 000 (2) රු. 300 000 (3) රු. 380 000 (4) රු. 400 000

**39.** 2015.12.31 දිනට මෙම ව්‍යාපාරයේ ජංගම වගකීම්වල වටිනාකම කොපමණ ද?
(1) රු. 18 000 (2) රු. 30 000 (3) රු. 43 000 (4) රු. 48 000

**40.** 2015.12.31 දිනට මෙම ව්‍යාපාරයේ මුළු වත්කම්වල වටිනාකම වන්නේ,
(1) රු. 77 000 කි. (2) රු. 280 000 කි. (3) රු. 357 000 කි. (4) රු. 477 000 කි.

* *

[හත්වැනි පිටුව බලන්න.

නව නිර්දේශය/புதிய பாடத்திட்டம்/New Syllabus

NEW

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**60 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2016 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2016 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2016

ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය I, II
வணிகக் கல்வியும் கணக்கீடும் I, II
Business and Accounting Studies I, II

## ව්‍යාපාර හා ගිණුම්කරණ අධ්‍යයනය II

**වැදගත්:** උපදෙස් දී ඇති පරිදි ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න. ඊට වැඩියෙන් ලියා ඇති පිළිතුරු, අයදුම්කරු විසින් කපා හැර නොමැති අවස්ථාවල දී ලකුණු නොකර ම කපා හරිනු ලැබේ.

* **පළමුවන** ප්‍රශ්නය ඇතුළුව **I** කොටසෙන් ප්‍රශ්න **දෙකක් ද, II** කොටසෙන් ප්‍රශ්න **දෙකක් ද,** බැගින් තෝරාගෙන ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.
* පිළිතුරු පැහැදිලි අත් අකුරින් ලියන්න.

**1.** පහත සඳහන් සිද්ධිය ඇසුරෙන් අංක **(i)** සිට **(x)** දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

මාලතී විසින් නැවුම් මල් අලෙවි කිරීම සඳහා ව්‍යාපාරයක් 'මාලි නැවුම් මල්' නමින් 2016.01.01 දින රු. 40 000 ක් යොදවමින් හා ඇයගේ මිතුරියක වන සමන්මලීගෙන් රු. 25 000 ක මුදලක් ණයට ලබා ගෙන විහාරස්ථානයක් අසල කුලියට ගත් ගොඩනැගිල්ලක ආරම්භ කරන ලදී. එදින ම, අලෙවිය සඳහා මල් අසුරා තැබීමට රු. 20 000 ක භාජන අත්පිට මුදලට ගන්නා ලදී. විහාරයට විශාල වශයෙන් දිනපතා පැමිණෙන වන්දනාකරුවන්ට මල් අලෙවි කිරීම මෙන් ම ප්‍රදේශයේ කුඩා මල් ශාලාවලට මල් සැපයීම ද මෙම ව්‍යාපාරය මගින් සිදු කෙරේ.

2016 ජනවාරි මාසය සඳහා පහත තොරතුරු සපයා ඇත.

* අත්පිට මුදලට මල් ගැනුම් .................................... රු. 120 000
* අත්පිට මුදලට කාර්යාල උපකරණ ගැනුම් ............... රු. 18 000
* අත්පිට මුදලට මල් විකුණුම් ................................ රු. 170 000
* ගෙවූ මාසික ණය පොලිය ...................................... රු. 250
* ගෙවූ ගොඩනැගිලි කුලී ......................................... රු. 4 000
* ගෙවූ මල් ප්‍රවාහන වියදම් .................................... රු. 5 000
* ගෙවිය යුතු විදුලි ගාස්තු ....................................... රු. 1 000
* ගෙවූ වෙනත් වියදම් ............................................ රු. 8 000

2016.01.31 දිනට ඉතිරි මල් තොග කිසිවක් නොමැත. කාර්යාල උපකරණ සහ මල් අසුරා තැබීමේ භාජන වාර්ෂික ව 12% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කෙරේ.

2016.02.01 දින සමන්මලී මෙම ව්‍යාපාරයට සම්බන්ධ වීමට කැමති බව දැනුම් දී තිබූ අතර, ඇය විසින් ලබා දුන් ණය මුදල ඇයගේ ප්‍රාග්ධනය ලෙස සලකන මෙන් ද දන්වා තිබුණි. මාලතී එම ඉල්ලීම පිළිගෙන ව්‍යාපාරය 'සමනලී නැවුම් මල්' නමින් සමන්මලී සමග දිගට ම පවත්වාගෙන යාමට තීරණය කරන ලදී. තව ද එදින ම ව්‍යාපාරයේ කටයුතු සඳහා සහායකයකු බඳවා ගන්නා ලදී.

(i) (අ) 'මාලි නැවුම් මල්' ව්‍යාපාරය කුමන ව්‍යාපාර සංවිධාන වර්ගයකට අයත් ද?
(ආ) 'මාලි නැවුම් මල්' ව්‍යාපාරයේ දැකිය හැකි ව්‍යාපාර අවස්ථාවක් ලියන්න.

(ii) 'සමනලී නැවුම් මල්' ව්‍යාපාර නාමය ලියාපදිංචි කළ යුතු බව සමන්මලී ප්‍රකාශ කරයි.
(අ) ඉහත ප්‍රකාශය හා ඔබ එකඟ වන්නේ ද?
(ආ) ඔබේ පිළිතුරට හේතුවක් දක්වන්න.

(iii) (අ) 'මාලි නැවුම් මල්' ව්‍යාපාරය හා සැසඳීමේ දී 'සමනලී නැවුම් මල්' ව්‍යාපාරයේ දැකිය හැකි **වාසියක්** හා **අවාසියක්** ලියන්න.
(ආ) 'සමනලී නැවුම් මල්' ව්‍යාපාරයට සහායකයකු බඳවා ගැනීම කුමන කළමනාකරණ කාර්යයට අයත් වේ ද?

[අවවැනි පිටුව බලන්න.

(iv) 'සමනලී නැවුම් මල්' ව්‍යාපාරය සිල්ලර වෙළෙඳාමේ මෙන් ම තොග වෙළෙඳාමේ ද යෙදේ. මෙම සිද්ධිය තුළ දැක්වෙන සිල්ලර වෙළෙඳාම සඳහා නිදසුනක් සහ තොග වෙළෙඳාම සඳහා නිදසුනක් බැගින් ලියන්න.

(v) 2016.01.01 දිනට 'මාලි නැවුම් මල්' ව්‍යාපාරයේ ගිණුම්කරණ සමීකරණය, අගයයන් සමග ලියා දක්වන්න.

(vi) රු. 18 000 ක කාර්යාල උපකරණ අත්පිට මුදලට ගැනීම, ගිණුම්ගත කිරීමට අදාළ ද්විත්ව සටහන ලියන්න.

(vii) (අ) 'මාලි නැවුම් මල්' ව්‍යාපාරය පවත්වා ගත යුතු මූලික සටහන් පොත් **දෙකක්** ලියන්න.

(ආ) 2016 ජනවාරි මාසය සඳහා කාර්යාල උපකරණ ක්ෂය ප්‍රමාණය කොපමණ ද?

(viii) 2016.01.31 දිනට ව්‍යාපාරයේ අත ඉතිරි මුදල ගණනය කරන්න.

(ix) 2016.01.31 දිනෙන් අවසන් මාසය සඳහා 'මාලි නැවුම් මල්' ව්‍යාපාරයේ ලාභය හෝ අලාභය ගණනය කරන්න.

(x) (අ) 2016.01.31 දිනට 'මාලි නැවුම් මල්' ව්‍යාපාරයේ හිමිකම කොපමණ ද?

(ආ) 2016.01.31 දිනට 'මාලි නැවුම් මල්' ව්‍යාපාරයේ මූල්‍ය තත්ත්ව ප්‍රකාශයේ දැක්වෙන ජංගම නොවන වත්කම් අයිතම **දෙකක්** ලියන්න.

**(ලකුණු 02 × 10 = 20 යි)**

## I කොටස - ව්‍යාපාර අධ්‍යයනය

(ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සපයන්න.)

**2.** (i) (අ) මිනිස් වුවමනාවක් යනු කුමක් ද?

(ආ) මිනිස් වුවමනාවක ඇතිය හැකි ලක්ෂණ **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) අවසාන පරිභෝජනය සඳහා භාණ්ඩ හා සේවා මිල දී ගන්නා පුද්ගලයා පාරිභෝගිකයා වේ.

(ආ) අරමුණ අනුව ව්‍යාපාර ප්‍රධාන වශයෙන් පොදු අංශයේ ව්‍යාපාර හා පෞද්ගලික අංශයේ ව්‍යාපාර ලෙස වර්ග කෙරේ.

(ඉ) ව්‍යාපාරයක අයිතිකරුවන් අභ්‍යන්තර පරිසර සාධකයක් වන අතර ගනුදෙනුකරුවන් බාහිර පරිසර සාධකයක් වේ.

(ඊ) මිනිස් අවශ්‍යතා විවිධ වන අතර වුවමනා සීමිත වේ. (ලකුණු 02 යි)

(iii) සුරංග මුහුදු වෙරළෙන් අහුලා ගන්නා සිප්පි කටුවලින් සහායකයකුගේ ද සහාය ඇති ව මැලියම් හා සායම් වර්ග භාවිත කර විසිතුරු සිප්පිකටු නිර්මාණ සාදා විදේශීය සංචාරකයින්ට අලෙවි කරයි.

(අ) මෙම සිද්ධියේ සඳහන් ව්‍යාපාරයේ නිෂ්පාදන සාධක **දෙකක්** ලියන්න.

(ආ) ඉහත (iii) (අ) සඳහා ඔබ සඳහන් කළ එක් එක් නිෂ්පාදන සාධකය සඳහා සිද්ධිය ඇසුරෙන් නිදසුන බැගින් ලියන්න. (ලකුණු 02 යි)

(iv) දුන්හිඳ දිය ඇල්ල අසල ජීවත් වන රූපා බඩඉරිඟු වගාකරන්නන්ගෙන් බඩඉරිඟු මිල දී ගෙන, තම්බා, සේවකයකුගේ ද සහාය ඇති ව දේශීය හා විදේශීය සංචාරකයින්ට අලෙවි කරයි.

(අ) රූපාගේ ව්‍යාපාරයේ අභ්‍යන්තර පරිසරයට අයත් වන, මෙම සිද්ධියේ සඳහන් පාර්ශ්ව **දෙකක්** ලියන්න.

(ආ) රූපාගේ ව්‍යාපාරය කෙරෙහි උනන්දුවක් දක්වන ඉහත සිද්ධියේ සඳහන් පාර්ශ්වයක් සඳහන් කර, එම පාර්ශ්වය ව්‍යාපාරය කෙරෙහි උනන්දුවක් දැක්වීමට හේතුවක් ලියන්න. (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

**3.** (i) (අ) වෙළෙඳාම යනු කුමක් ද?

(ආ) ව්‍යාපාරයක කටයුතුවලට සහාය වන උපකාරක සේවා **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) රක්ෂණයේ දී, රක්ෂණ ආවරණය ලබන පාර්ශ්වය රක්ෂිතයා ලෙසත්, රක්ෂණ ආවරණය ලබා දෙන පාර්ශ්වය රක්ෂකයා ලෙසත් හඳුන්වයි.

(ආ) ආයතනය අභ්‍යන්තරයේ විවිධ පාර්ශ්ව අතර විවිධ මාධ්‍ය හරහා පණිවුඩ, තොරතුරු හා අදහස් හුවමාරු කිරීම බාහිර සන්නිවේදනය වේ.

(ඉ) ශිෂ්‍යයකු තමාට අවශ්‍ය ආහාර පාසල් ආපනශාලාවෙන් මිල දී ගැනීම තොග වෙළෙඳාමයි.

(ඊ) චෙක්පතක අණලද්දු සෑම විට ම වාණිජ බැංකුවකි. (ලකුණු 02 යි)

(iii) ව්‍යාපාරයක ගබඩාවේ ඇති වූ හදිසි ගින්නකින් වූ අලාභය සඳහා රු. 200 000 ක වන්දියක් ලබා දෙන බව අදාළ රක්ෂණ ආයතනය විසින් ව්‍යාපාර හිමියාට ලිපියකින් දන්වා ඇත.
මෙම සිද්ධියේ සඳහන් සන්නිවේදන ක්‍රියාවලියට අදාළ **යවන්නා, පණිවුඩය, මාධ්‍යය** හා **ලබන්නා** වෙන වෙන ම ලියන්න. (ලකුණු 02 යි)

[නවවැනි පිටුව බලන්න.

(iv) සපුමල් දිනපතා පාසලට පැමිණෙන්නේ දුම්රියෙනි.

(අ) සපුමල් පාසලට පැමිණීම සඳහා භාවිත කරන ප්‍රවාහන ක්‍රමයට අදාළ එක් එක් ප්‍රවාහන මූලිකාංගය සඳහා නිදසුන බැගින් ලියන්න.

(ආ) ශ්‍රී ලංකාවේ දුම්රිය ප්‍රවාහන සේවය සපයන රාජ්‍ය අංශයේ ආයතනය නම් කරන්න. (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

4. (i) (අ) භාණ්ඩාගාර බිල්පතක් යනු කුමක් ද?

(ආ) ආයෝජන මාර්ගයක් තෝරා ගැනීමේ දී සලකා බලන සාධක **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) පහත සඳහන් ප්‍රකාශ **සත්‍ය** ද **අසත්‍ය** ද යන්න දක්වන්න.

(අ) හවුල් ව්‍යාපාරයක හවුල්කරුවන් යෙදූ ප්‍රාග්ධනයට ලැබෙන ප්‍රතිලාභය ලාභාංශ වේ.

(ආ) බැංකු ජංගම ගිණුමක මුදල් ආයෝජනය කිරීම ඉහළ පොලී ආදායමක් ලැබෙන ආයෝජන මාර්ගයකි.

(ඇ) ව්‍යාපාරයක අරමුණු තීරණය කිරීම හා ඒවා ඉටු කර ගැනීම සඳහා සුදුසු ක්‍රියාමාර්ග තීරණය කිරීම සම්බන්ධ ක්‍රියාවලිය සැලසුම්කරණයයි.

(ඈ) ව්‍යාපාරයකට ආකර්ෂණීය ලෙස මෙන් ම ලාභදායී ව තෘප්තිමත් කළ හැකි පාරිභෝගික කොටස ඉලක්ක වෙළෙඳපොළ වේ. (ලකුණු 02 යි)

(iii) සමාගමක් විසින් ඉහළ පෝෂණ ගුණයෙන් යුත් බිස්කට් වර්ගයක් නිෂ්පාදනය කිරීමට තීරණය කළ අතර ඒ සඳහා නවීන තාක්ෂණයෙන් යුත් යන්ත්‍රයක් මිල දී ගන්නා ලදී. නිෂ්පාදන ක්‍රියාවලියේ සෑම අවස්ථාවක දී ම තත්ත්ව පාලක විසින් නිෂ්පාදිතයේ ගුණත්වය පරීක්ෂා කෙරෙන අතර, නිෂ්පාදන කළමනාකරු ඔහුට අවශ්‍ය උපදෙස් ලබා දේ.
කළමනාකරණ කාර්ය **හතර** දක්වා, එම එක් එක් කාර්යය සඳහා නිදසුන් ඉහත සිද්ධිය ඇසුරෙන් තෝරා පහත ආකාරයේ වගුවක සඳහන් කරන්න.

| කළමනාකරණ කාර්ය | සිද්ධියේ සඳහන් නිදසුන |
|---|---|
| 1. | |
| 2. | |
| 3. | |
| 4. | |

(ලකුණු 02 යි)

(iv) පාවහන් නිෂ්පාදනය කරන ආයතනයක්, විශේෂ හම් වර්ගයකින් නිෂ්පාදිත පාවහන් වර්ගයක් හඳුන්වා දීම කොළඹ නගර ශාලාවේ දී 2017.01.01 දින සිදු කරන බවත්, එදින කරන මිල දී ගැනීම් සඳහා 50% ක වෙළෙඳ වට්ටමක් ලබා දෙන බවත් සඳහන් දැන්වීමක් පළ කරන ලදී.

(අ) ඉහත ආයතනයේ අලෙවිකරණ අරමුණු ඉටු කර ගැනීම සඳහා භාවිත කර ඇති අලෙවිකරණ මිශ්‍රයේ විචල්‍ය **දෙකක්** ලියන්න.

(ආ) ඉහත (iv) (අ) හි ඔබ ලියූ අලෙවිකරණ මිශ්‍රයේ විචල්‍ය දෙක සඳහා මෙම සිද්ධියේ සඳහන් නිදසුන බැගින් ලියන්න. (ලකුණු 02 යි)

**(මුළු ලකුණු 08 යි)**

## II කොටස - ගිණුම්කරණය

(ප්‍රශ්න **දෙකකට** පමණක් පිළිතුරු සපයන්න.)

5. (i) (අ) ගිණුම්කරණය යනු කුමක් ද?

(ආ) ව්‍යාපාරයක අයිතිකරුගේ හිමිකම වෙනස්වීමට බලපාන කරුණු **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) රවීගේ රෙදිපිළි ව්‍යාපාරයේ 2016 සැප්තැම්බර් මාසයට අදාළ ණයට විකුණුම් විස්තර පහත දැක්වේ.

| දිනය | ඉන්වොයිස් අංකය | ගැනුම්කරු | ප්‍රමාණය | අනෙකුත් තොරතුරු |
|---|---|---|---|---|
| 2016.09.10 | 102 | රාමා | එකක් රු. 200 බැගින් ටී ෂර්ට් 10 | වෙළෙඳ වට්ටම 10% |
| 2016.09.22 | 103 | සීතා | එකක් රු. 50 බැගින් ලේන්සු 100 | වෙළෙඳ වට්ටම 5% |

**අවශ්‍ය වන්නේ:**

රවීගේ ව්‍යාපාරයේ 2016 සැප්තැම්බර් මාසයේ විකුණුම් ජර්නලය (ලකුණු 02 යි)

(iii) තරිඳු පාසල් උපකරණ අලෙවි කිරීමේ ව්‍යාපාරයක් 2016.01.01 දින ආරම්භ කරන ලදී. එදින සිදු වූ ගනුදෙනු කිහිපයක් පහත දැක්වේ.

1. තරිඳු ව්‍යාපාරයට මුදල් යෙදවීම රු. 50 000
2. ලී බඩු අත්පිට මුදලට ගැනීම රු. 20 000
3. ගොඩනැගිල්ලට මාසික කුලිය ගෙවීම රු. 5 000
4. බැංකු ණයක් ලබා ගැනීම රු. 25 000
5. පාසල් උපකරණ ණයට ගැනීම රු. 10 000

**අවශ්‍ය වන්නේ:**

(අ) ඉහත එක් එක් ගනුදෙනුව ගිණුම්කරණ සමීකරණයට බලපාන ආකාරය දක්වන්න. (පිළිතුරු සැපයීමේ දී පහත ආකාරයේ ආකෘතියක් භාවිත කරන්න. පළමු ගනුදෙනුව ඔබ වෙනුවෙන් සටහන් කර දක්වා ඇත.)

| ගනුදෙනුව | වත්කම් | = | වගකීම් | + | අයිතිකරුගේ හිමිකම |
|---|---|---|---|---|---|
| 1 | මුදල් + 50 000 | = | | | ප්‍රාග්ධනය + 50 000 |
| 2 | | | | | |
| 3 | | | | | |
| 4 | | | | | |
| 5 | | | | | |

(ආ) 2016.01.01 දිනට තරිඳුගේ ව්‍යාපාරයේ පහත සඳහන් අයිතමවල වටිනාකම වෙන වෙන ම දක්වන්න.

1. ජංගම නොවන වත්කම් 2. ජංගම වත්කම් 3. මුළු වගකීම් 4. හිමිකම්

(ලකුණු 04 යි)

(iv) රොමේෂ්ගේ ව්‍යාපාරයේ 2016 ජනවාරි මාසය සඳහා පිළියෙල කළ සුළු මුදල් පොත පහත දැක්වේ.

**සුළු මුදල් පොත**

| ලැබීම් රු. | ස. පි | දිනය | විස්තරය | ව. අ | ගෙවීම් රු. | විශ්ලේෂණ තීරු: ගමන් රු. | තැපැල් රු. | ලිපිද්‍රව්‍ය රු. | ලෙජර් ගිණුම රු. | ලෙජර් පිටුව |
|---|---|---|---|---|---|---|---|---|---|---|
| 100 | | 1/1 | ශේෂය | | | | | | | |
| 1 400 | | 1/1 | මුදල් | | | | | | | |
| | | 1/3 | ත්‍රීරෝද රථ ගාස්තු | 1 | 120 | 120 | | | | |
| | | 1/5 | මුද්දර ගාස්තු | 2 | 60 | | 60 | | | |
| | | 1/6 | පෑන් ගැනීම | 3 | 210 | | | 210 | | |
| | | 1/8 | ගමන් වියදම් | 4 | 150 | 150 | | | | |
| | | 1/12 | ජයන්තිට ගෙවීම් | 5 | 200 | | | | 200 | |
| | | 1/15 | කාබන් කොළ ගැනීම | 6 | 180 | | | 180 | | |
| | | 1/20 | ලියාපදිංචි ගාස්තු | 7 | 160 | | 160 | | | |
| | | 1/26 | කුලී රථ ගාස්තු | 8 | 200 | 200 | | | | |
| | | | | | 1 280 | 470 | 220 | 390 | 200 | |
| | | 1/31 | ශේෂය ප/ගෙ | | 220 | | | | | |
| 1 500 | | | | | 1 500 | | | | | |
| 220 | | 2/1 | ශේෂය ඉ/ගෙ | | | | | | | |

**අවශ්‍ය වන්නේ:**

(අ) මෙම ව්‍යාපාරයේ සුළු මුදල් අග්‍රිමයේ වටිනාකම

(ආ) 2016.02.01 දිනට ප්‍රතිපූරණය කළ යුතු මුදල

(ඉ) ඉහත සුළු මුදල් ගෙවීම්වලට අදාළ තොරතුරු ලෙජර් ගිණුම්වලට පිටපත් කිරීම (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

[එකොළොස්වැනි පිටුව බලන්න.

6. (i) (අ) බැංකු අයිරාවක් යනු කුමක් ද?

(ආ) ව්‍යාපාරයේ ජංගම ගිණුමේ මුදල් තැන්පත් කිරීමට අදාළ ද්විත්ව සටහන ලියන්න. (ලකුණු 02 යි)

(ii) එක ම වර්ගයේ විසිතුරු මල් බඳුන් නිෂ්පාදනය කරන ව්‍යාපාරයක 2016 මැයි මාසය සඳහා තොරතුරු කිහිපයක් පහත දැක්වේ.

* නිෂ්පාදන ඒකක ගණන 100
* සෘජු වියදම් රු. 30 000
* මල් බඳුන් ප්‍රවාහන වියදම් රු. 5 000
* ඒකකයක නිෂ්පාදන පිරිවැය රු. 400
* විකුණුම් මිල තීරණය කිරීමේ දී පිරිවැය මත 25% ක ලාභාන්තිකයක් තබා ගැනේ.

**අවශ්‍ය වන්නේ:**

(අ) 2016 මැයි මාසය සඳහා නිෂ්පාදන පොදු කාර්ය පිරිවැය

(ආ) ඒකකයක විකුණුම් මිල (ලකුණු 02 යි)

(iii) ජනිත්ගේ ව්‍යාපාරයේ 2016.09.30 දිනට බැංකු ගිණුමේ ශේෂය රු. 18 000 ක් විය. නමුත් 2016 සැප්තැම්බර් මාසය සඳහා බැංකුවෙන් ලද බැංකු ප්‍රකාශයේ ශේෂය, බැංකු ගිණුමේ ශේෂය හා නොගැළපුණි. පසු ව වෙනසට හේතු ලෙස පහත කරුණු අනාවරණය කර ගන්නා ලදී.

* බැංකු ගිණුමේ සටහන් නොවූ බැංකුව කළ ස්ථාවර නියෝග මත ගෙවීම් රු. 6 000 කි.
* තැන්පත් කළ නමුත් සැප්තැම්බර් මාසය තුළ නිෂ්කාශනය නොවූ චෙක්පත් රු. 3 000 කි.
* නිකුත් කළ නමුත් සැප්තැම්බර් මාසය තුළ දී ගෙවීමට ඉදිරිපත් නොවූ චෙක්පත්වල වටිනාකම රු. 4 800 කි.

**අවශ්‍ය වන්නේ:**

(අ) 2016.09.30 දිනට ව්‍යාපාරයේ බැංකු ගිණුමේ ශේෂය සංශෝධනය කිරීම

(ආ) 2016.09.30 දිනට බැංකු සැසඳුම් ප්‍රකාශය පිළියෙල කිරීම (ලකුණු 04 යි)

(iv) මොහාන්ගේ ව්‍යාපාරයේ 2016.03.31 දිනට පිළියෙල කළ ශේෂ පිරික්සුම පහත දැක්වේ.

| | හර (රු.) | බැර (රු.) |
|---|---|---|
| ප්‍රාග්ධනය .................................... | | 100 000 |
| විකුණුම් .................................... | | 54 000 |
| ණයගැතියෝ .................................... | 32 000 | |
| ණයහිමියෝ .................................... | | 26 000 |
| ලී බඩු හා උපකරණ .................................... | 60 000 | |
| බැංකු ණය .................................... | | 10 000 |
| විදුලි ගාස්තු .................................... | 8 000 | |
| ගැනුම් .................................... | 30 000 | |
| වැටුප් හා වේතන .................................... | 20 000 | |
| ගෙන ඒමේ කුලී .................................... | 6 000 | |
| මුදල් ශේෂය .................................... | 25 000 | |
| අවිනිශ්චිත ගිණුම .................................... | 9 000 | |
| | 190 000 | 190 000 |

ඉහත ශේෂ පිරික්සුම පිළියෙල කිරීමෙන් පසු ව පහත සඳහන් වැරදි ගිණුම් තැබීමේ දී සිදු වී ඇති බව අනාවරණය විය.

1. ගෙවූ ගොඩනැගිලි කුලී රු. 2 000 විදුලි ගාස්තු ගිණුමේ හරට සටහන් කර ඇත.
2. විකුණුම් ගිණුමේ ශේෂය වූ රු. 45 000 ශේෂ පිරික්සුමට උපුටාගෙන ඇත්තේ රු. 54 000 ක් ලෙස ය.

**අවශ්‍ය වන්නේ:**

(අ) ඉහත වැරදි නිවැරදි කිරීමේ ජර්නල් සටහන්

(ආ) ඉහත වැරදි නිවැරදි කිරීමෙන් පසු අවිනිශ්චිත ගිණුම (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

[දොළොස්වැනි පිටුව බලන්න.

7. (i) (අ) වත්කමක් යනු කුමක් ද?

(ආ) මූල්‍ය තත්ත්ව ප්‍රකාශයක අන්තර්ගත වන මූලිකාංග **දෙකක්** ලියන්න. (ලකුණු 02 යි)

(ii) ලක්මිණි ක්‍රීඩා සමාජයේ සාමාජික සංඛ්‍යාව 120 ක් වන අතර එක් සාමාජිකයකුගේ වාර්ෂික සාමාජික ගාස්තුව රු. 600 කි. එම ක්‍රීඩා සමාජයේ 2015 වර්ෂයේ ලැබීම් හා ගෙවීම්වලට අදාළ තොරතුරු පහත දැක්වේ.

| | |
|---|---|
| සාමාජික මුදල් ලැබීම් .............................. | රු. 72 000 |
| ක්‍රීඩා පිටිය නඩත්තු වියදම් ...................... | රු. 12 000 |
| ක්‍රීඩා උපකරණ මිලට ගැනීම් .................. | රු. 20 000 |
| පරිත්‍යාග ලැබීම් ........................................ | රු. 5 000 |
| විදුලි ගාස්තු ................................................ | රු. 12 000 |
| සංග්‍රහ වියදම් ............................................ | රු. 6 500 |
| ශබ්ද විකාශන යන්ත්‍රයක් මිල දී ගැනීම .... | රු. 20 000 |
| ජල ගාස්තු ................................................... | රු. 4 500 |
| ක්‍රීඩා පුහුණු වියදම් ................................ | රු. 15 000 |

**අවශ්‍ය වන්නේ:**

2015.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලක්මිණි ක්‍රීඩා සමාජයේ ආදායම් ප්‍රකාශය පිළියෙල කිරීම (ලකුණු 02 යි)

(iii) රවීගේ වෙළෙඳ ව්‍යාපාරයේ 2015.12.31 දිනට පිළියෙල කළ ශේෂ පිරික්සුම පහත දැක්වේ.

| | හර (රු.) | බැර (රු.) |
|---|---|---|
| ප්‍රාග්ධනය ................................................ | | 500 000 |
| බඩු තොගය (2015.01.01 දිනට) ............. | 10 000 | |
| ගැනුම් ....................................................... | 280 000 | |
| විකුණුම් ..................................................... | | 350 000 |
| ණයගැතියෝ ............................................... | 30 000 | |
| ණයහිමියෝ ............................................... | | 13 000 |
| 15% බැංකු ණය ........................................ | | 50 000 |
| ඉඩම් ගොඩනැගිලි (පිරිවැයට) ................. | 400 000 | |
| යන්ත්‍ර (පිරිවැයට) ................................. | 150 000 | |
| බැංකු ණය පොලිය ................................... | 3 000 | |
| පරිපාලන වේතන ..................................... | 14 000 | |
| දුන් වට්ටම් ............................................... | 3 200 | |
| ලද වට්ටම් ................................................ | | 5 000 |
| වරිපනම් ................................................... | 8 000 | |
| ප්‍රචාරණය ................................................. | 12 500 | |
| අතැති මුදල් .............................................. | 7 300 | |
| | 918 000 | 918 000 |

අමතර තොරතුරු:

- 2015.12.31 දිනට බඩු තොගය රු. 30 000 කි.
- යන්ත්‍ර වාර්ෂික ව 10% බැගින් සරල මාර්ග ක්‍රමයට ක්ෂය කළ යුතු ය.
- ණයගැතියන්ගෙන් රු. 3 000 ක් බොල්ණය ලෙස කපා හැරිය යුතු ය.

**අවශ්‍ය වන්නේ:**

(අ) 2015.12.31 දිනෙන් අවසන් වර්ෂය සඳහා ලාභ හෝ අලාභ ප්‍රකාශය (ලකුණු 04 යි)

(ආ) 2015.12.31 දිනට මූල්‍ය තත්ත්ව ප්‍රකාශය (ලකුණු 04 යි)

**(මුළු ලකුණු 12 යි)**

***